වයසක මිතුරෙකි පෙතිකුඩ  දොස්තර
ඔහු ගැන කුමට ද වැඩිපුර  විස්තර

ඔබ දුක් විඳිතොත් ලෙඩකින්  දුකකින්
ඔහු හමු වී සුව වනු මැන  නිසැකින්

වත්තේ කුඹුරේ කැලේ  කොළේ
සිවු පා සතුනුත් කුරුලු  කුලේ

පණු කුරුමිණි හා වෑක වග  වලසුන්
එළදෙන්නුන් එළු බැටළුවෝ  සාවුන්

මෙහි පැමිණෙන සැම දෙන සැම  දෙසකින්
ලබතී වෙදකම් නො මඳ ව මොහු  ගෙන්



දවසක් නරියෙක් ඔහු වෙත  ආවා
"බමරෙක් ම පිටට ඇන්නැ"යි  කීවා
බුම්මා ගත් මුහුණෙන් බලු  පැටියෙක්
"නාහෙට ඇන්නා" කීව  කිකිළියක්

හා නෝනා කඩිමුඩියේ ආවා
ඇවිදින් අඬමින් මේ ලෙස කීවා

"ට්‍රෑම් රියක් මහ පාරේ ආවා
මගේ පුතා ඒකට යට වූවා

මගේ පුතා සුදු සුරතල් රන් කඳ
මේ දුක මා හද වාවනු කොහොම ද?

ඇවිදින් දෙකකුල කපලා දැම්මා
කොහොම හිටින්නද මා හද වම්මා

රියට පුතාගේ දෙකකුල කැපිලා
ඉවසනු බෑ දුක හද ගිනි වෙලිලා"

"එපා අඬන්නට, එපා අඬන්නට
පුතාට වීදියෙ කෙලින් නටන්නට

පෙර මෙන් සිත් සන්තෝසෙන් ඉන්නට
අලුත් කකුල් මට පුළුවනි දෙන්නට"

පවසා මේ ලෙස මෙ වදන් එඩිතර
හා නෝනව සැනසූවා දොස්තර

දෙකකුල් නැති සුරතල් හා පැටවා
පෙතිකුඩ දොස්තර වෙත ගෙන ආවා

දොස්තර අලුතින් කකුල් දෙකක්
මසලා දුන්නා නැති වෙනසක්

දැන් ආයිත් වීදියෙ හා පැටියට
නටන්න පුළුවන් ඕනෑ විදියට

මෙය දුටු හා මැතිණිය උඩ පැන පැන
නැටුවා සන්තෝසෙන් ඉතිරී යන

සුරතල් පුතු හා රවුමට කැරකී
සිනාසුණා තුටු කඳුළින් මිරිකී

"මගේ පුතා සුව කළ ප්‍රිය දොස්තර
ඔබ හට මම තුති පුදමි නොයෙක් වර"






සිවලෙක් වෙළඹක පිට උඩ නැගලා
එතැනට ආවා වේගෙන් දුවලා

ඌ මේ කොතැනක ඉඳල ද එන්නේ
දෙවියෝ පමණකි ඒ ගැන දන්නේ

"මේ දැන් මේ විදුලි පුවත ඔබේ නමට ආවා
හිපෝ මේක එවා ඇත්තෙ" කියා හිවල කීවා

"එන්න ඇවිත් අප බලන්න හිතවත් දොස්තර
එන්න අප්‍රිකාවට දැන් පෙතිකුඩ දොස්තර

ඇවිත් අපේ දරු පරපුර ලෙඩින් දුකින් බර
බේරා දෙන්නැ"යි කීවා විදුලි පුවත අර

"එය ඇත්ත ද? මක් වෙලා ද?
අසනීපය හුඳක් කල් ද?"

"අයියෝ ඔව්, අයියෝ ඔව්
ප්‍රතිශ්‍යා, පැපොල රෝගෙ
වසූරිකා සහ සරම්ප
කම්මුල් ගායද සමගින්
ඇපෙන්ඩිසයිටිස් මදිවට
මැලේරියා බ්‍රොන්කයිටිස්
හැදී ඔවුන් දුක් විඳිනව
ඔවුන්ගෙ ඉරණම ඇත්තේ
ඔබ තුමාගෙ දස්කම උඩ!"

"හොඳයි හොඳයි මම එන්නම්
ඔබෙ දරුවන් ගලවන්නම්
ඔබෙ ලිපිනය මට කියන්න
කන්දෙ ද? වගුරෙ ද? නැත්නම්
මා ආ යුතු කොහිට ද?"

"අප ඉන්නේ කලහාරියේ
පරිනැන්ඩුපො කඳු මුදුනේ

වහා කිපෙන, හිපෝ දුවන
ලිම්පෝපෝ රළ විහිදන
දේසෙ තමයි අප ඉන්නේ"



ගමන ඇරඹුවා පෙතිකුඩ දොස්තර
දුවගෙන යනවා පෙතිකුඩ දොස්තර
කඳු මිටියාවත් වගුරු ද පසු කර
යමින් මෙසේ කීවා අපෙ දොස්තර

"ලිම්පෝපෝ, ලිම්පෝපෝ, ලිම්පෝපෝ"

ඝන සැරේට හිම වැටිලා රෑ කළුවර ආවා
පෙතිකුඩ ආපසු හැරියන් අතහැර දා මේවා
පෙතිකුඩ දොස්තර ඇදගෙන වැටුණා
හිම මත ඔහුගේ මුහුණම ඇනුණා.

"මට හරි වෙහෙසයි
නැගිට යන්නට බෑ

අළු පාටැති වෘකයන් එම වෙලේ
දොස්තර වෙත දුව ගියා කලබලේ

"අපේ කර පිටින් යන්නට එනු මැන
ඔබ ගෙන යන්නෙමු වේගෙන් අපමණ"

අළු පාටැති තඩි වෘකයෙකුගෙ පිට
දොස්තර පෙතිකුඩ නැගුණා එම විට

දොස්තර මුවගෙහි එකම වචනයකි
"ලිම්පෝපෝ, ලිම්පෝපෝ, ලිම්පෝපෝ"





ඉක්මනින් ම මේ කට්ටිය මුහුදක් වෙත ආවා
අහස උසට නැඟි රළ පෙළ බියකරු බව පෑවා
සුළඟින් කැළඹුණු මුහුදේ මහ රළ පෙළ බිරුවා
තොප්පිය සමගින් දොස්තර ගිලින්න තැත් කෙරුවා

"මේ මුහුදේ මම ගිලුණොත් මුහුද පතුලට ම යනු ඇත
එතකොට අසරණ මිතුරන් හට පිහිටක් වෙනු කවුරු ද?"

එකෙනෙහි සීතල දිය කඳ අස්සේ
තල්මසකුගෙ මහ ඔලුවක් ඉස්සේ

"නගින්න දොස්තර පිට උඩ මාගේ
ගමනේ අඩුවක් වනු නැත වේගේ
මහා නැවක යන මගියකු වාගේ
අරගෙන යන්නම් විදුලිය වාගේ"

එතකොට දොස්තර මහතා පෙතිකුඩ
නැග්ගා ඒ තල්මහගේ පිට උඩ
මෙ විට ද ඔහුගේ මුවගෙහි රැඳුණේ
එක ම වචනයකි එය ඔබ දන්නේ

"ලිම්පෝපෝ!, ලිම්පෝපෝ!, ලිම්පෝපෝ!"





අහසට උස් වූ මහ කඳු පර්වත
ඔහු හට එ වෙලේ මුණ ගැසුණා
නැංගා නැංගා ඔහු රෑ වන තුරු
ඒවා වැඩි වැඩියෙන් නැගුණා

කඳු පර්වත තව තව නැග යද්දී
අහස ද අඳුරින් අඳුරු වුණා
පෙතිකුඩ දොස්තර මහතට මේ විට
මේ අදහස ඔලුවට නැගුණා

"එතැනට යන්නට නොහැකි වුණෝතින්
කවදාවත් මට නොහැකි වුණොතින්
කාගේවත් සරණක් පිහිටක් නැති
මාගේ අසරණ ඒ මිතුරන් හට
කුමක් ද වන්නේ?
කවුරු ද දන්නේ?"

එකෙණෙහි දැවැන්ත ගල් කුළකින්
පියඹා ආ රාජාලි රැළක්
කී විට, "දොස්තර නගින්න තටු පිට
අපි ඔබ ගෙන යමු විදුලිය මෙන්"

රාජාලියකුගෙ තටු මත දොස්තර
නැංගා ඌ යන්නට විය ඒ වර
මෙ විට ද ඔහුගේ මුවගෙහි රැඳුණේ
එක ම වචනයකි එය ඔබ දන්නේ

"ලිම්පෝපෝ!, ලිම්පෝපෝ!, ලිම්පෝපෝ!"



අප්‍රිකාවේ මහ දැවැන්ත
ලිම්පෝපෝ වෙත, තම දුක් බර
හදවත පාරා අඬ අඬ
හිපෝ වාඩි වී සිටියා

අප්‍රිකාවෙ ගහක් යටට
වෙලා බලා ගත්තු ගමන්
හිපෝ මෙසේ බලා ඉන්නෙ
නිල් මහ සමුදුරය දෙසයි

"අයියෝ! දොස්තර පෙතිකුඩ මහතගෙ
නැව කවදා දෝ මෙතැනට එන්නේ?
කවද ද ඔහු මෙහෙ ඇවිත්
ලෙඩුන් බලන්නේ"
අසමින් රයිනෝල ඇතුන්
දුව පැන යන්නේ!

නොඉවසිලිව ටෙලිපෝනෙන්
කතා කරන්නේ,
"කවද ද ඔහු මෙහේ ඇවිත්
ලෙඩුන් බලන්නේ?"

ළඟ පාතින් වැතිර සිටිති හිපෝ බේබිලා
ඔවුන්ට ඇත ඉක්ක ගසන ලෙඩේ වැළඳිලා
කැක්කුම් දෙන නිසා හිඳිනු බැරිව ඉවසලා
අල්ලන් ඇත පොඩි බඩවල් අතින් මිරිකලා

පැස්බර බබ්බුන් තද අසනීපෙනි
ඔවුන් අඬන්නේ ඌරු පැටව් මෙනි
ලස්සන සුරතල් පැස්බර බබ්බුන්
වැළපෙති හඬමින් කුරු කුරු ගාමින්!

උන්ට සරම්ප ද ඇපෙන්ඩිසයිටිස්
කම්මුල් ගාය ද ඇත බ්‍රොන්කයිටිස්
උගුරු වේදනා ටොන්සයිලයිටිස්
වැළඳී ඇතියෙන් කෙඳිරිය නැත හිස්

උණයෙන් පෙළෙමින් හඬමින් වැතිරී
පැටවුන් ඇත දොම්නසයෙන් ඉතිරී
"හැම දා අපි සැම මේ අන්දමිනී
ඉඳිමු ද දොස්තර පෙතිකුඩ නමිනී?"

උන් ළඟින් ම තියුණු දතැති - මහ මෝරෙක් ගැඹුරු මුවැති
පොළොවෙහි වැතිරී ගෙන ඇති - දරු කැල රෝගයෙන් පෙළෙති

ඈ ගේ අසරණ මෝර පැටව් ටික - ඉන්නේ බියකරු තත්වයකයි!
එතරම් දිලිසෙන එ තරම් තියුණු වූ - දත් ටික දි රෑ කැක්කුම් දෙයි!

අයියෝ! අසරණ පළඟැටියා - තුවාල කර ගෙන ඇත කකුලක්!
අයියෝ! අසරණ පළඟැටියා - උලුක්කු කර ගෙන ඇත කලවක්!

නටන්නෙ නෑ ඔහු පනින්නෙ නෑ - අඬනු විනා ගී ගයන්නෙ නෑ
අඬමින් ඉකි බිඳිමින් මෙහි ඉන්නා - දෙනෙතින් ඔහු උණු කඳුළු ගලන්නා!

“අයියෝ! දොස්තර පෙතිකුඩ කොයිබ ද?
කවදා හරි ඔහු මෙතැනට ඒවි ද?”





අන්න බලන් අර අහස දිහා
රාජාලියෝ දෙදෙනෙක් එති හා!
විනාඩියෙන් දහයකට මෙහා
උන් එනු ඇත පියඹමින් වහා!

එකෙකුගෙ තටු මත ලොව පරසිදු වූ
දොස්තර පෙතිකුඩ හිඳ ගෙන ඉන්නෙ
හිතවත් දොස්තර රෝගීන් නැළ වූ
ඔවුන්ගෙ ගැලවුම්කරු වන්නේ!

"ආයුබෝවන්! අප්‍රිකාව!" යනුවෙන් දොස්තර
කෑ ගැසුවා එවිට සියලු දෙනාම නෙත් හැර,
"ආයුබෝවන්!" කියා පිරුණු නෙත් කඳුළින් බර
පිළිගත්තා සැම දෙනා පෙතිකුඩ දොස්තර!

රාජාලියෝ තව දුරටත් හෙමින් පහත් වුණා
හෙමින් හෙමින් පහත් වෙලා පොළොවෙ නතර වුණා!




බිමට බැහැල දොස්තර ලෙඩ පැටවු ළඟට    දුවලා
ජෑම්, මාමලේඩ් ද පැණි, උන්ට හොඳට    කවලා
හිපෝ පැටවු ළඟට ගිහින් බඩට තට්ටු    කරලා
පැණි කැවිලිත් ජේලිත් දුන්න, උන්ගේ උණ    බලලා!

ඉන් පසු නයිගරයෙන් ආ ව්‍යාඝ්‍රය වෙත    දිව්වා
ඉන් පසු කෝපයෙන් පැමිණි වඳුරු වෙතට    දිව්වා

මේ හැම දෙනට ම පෙතිකුඩ දුන්නා    රස පැණි
උණු කිරි, බිත්තර සමගින් දුන්නා    රස පැණි
උණු කිරි, බිත්තර සමගින් දුන්නා    රස පැණි
සුව කරන්න ලෙඩ, පෙතිකුඩ දුන්නා    රස පැණි



රෑ කල් දහයයි දාවල් දහයයි - ඇහැ පිය නොපියා නිදි වරමින්
දාවල් දහයයි රෑ කල් දහයයි - පැටවුන් හට වෙදකම් කරමින්
අසරණ පැටවුන්ගේ උණ විස්තර - හා ලෙඩ රෝගාදිය බලමින්
කාලය ගෙව්වා පෙතිකුඩ දොස්තර - සෑම දෙනාටම පිහිට වෙමින්



අවසානෙදි ඔහු සියලුම පැටවුන්
සුව කර දැම්මා ලෙඩ රෝගෙන්
සුව කර දැම්මා ඔහු ලෙඩ රෝගෙන්
කිණි කිණි කිණි ගා සෙන්නට සිනහා
දැන් හැම පැටිය ම සූදානම්
පැද්දී කැරකී නැටුවා පැන්නා
උන් ඉතිරී යන සන්තෝසෙන්

අර බියකරු මහ මෝරා
අඳුරු දියේ ඉඟි මරලා
පිස්සු වැටුණු එකෙක් වගේ
හිනා වුණා! හිනා වුණා!
හිනා වුණා! හිනා වුණා!



ඉතින් හිපෝ පුංචි පැටවු හුරතල් පාලා
හුළං පිරුණු බෑග් වගේ හූස්! හූස්! ගාලා
හිනා වුණා! හිනා වුණා! කොක් හඬ දාලා
ඕක් ගසුත් සතුටු වුණා! හෙමින් වැනීලා

මෙන්න එනෝ හිපෝ! මෙන්න එනෝ පොපෝ!
හිපෝ - පොපෝ, හිපෝ - පොපෝ, මෙන්න හිපෝ - පොපෝ

කිලිමන්ජාරෝවෙ ඉඳන්
සහරා වැලි කතරෙ ඉඳන්
හොඳ ලස්සන සින්දු කියන්
හිපෝ - පොපෝ එනෝ!

"අප සැමට ම සුවය සදන
මේ දොස්තරවරු සැම දින
දිනේවා!"යි සින්දු කියන්
හිපෝ - පොපෝ එනෝ!

කාර්නේ චුකොව්ස්කි

# දොස්තර පෙතිකුඩ

චිත්‍ර:

වි. සුතේයෙව්

ISBN 978-955-1979-xx-x

ප්‍රකාශනය




කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය
යස ඉසුරු ප්‍රින්ටර්ස්

ප්‍රථම මුද්‍රණය 2016

